63 S I, II

අධ්‍යයන පොදු සහතික පත්‍ර (සාමාන්‍ය පෙළ) විභාගය, 2022(2023)
கல்விப் பொதுத் தராதரப் பத்திர (சாதாரண தர)ப் பரீட்சை, 2022(2023)
General Certificate of Education (Ord. Level) Examination, 2022(2023)

| | | |
|---|---|---|
| ව්‍යවසායකත්ව අධ්‍යයනය | I, II | පැය තුනයි |
| முயற்சியாண்மைக் கற்கை | I, II | மூன்று மணித்தியாலம் |
| Entrepreneurship Studies | I, II | Three hours |

අමතර කියවීම් කාලය - මිනිත්තු 10 යි
மேலதிக வாசிப்பு நேரம் - 10 நிமிடங்கள்
Additional Reading Time - 10 minutes

අමතර කියවීම් කාලය ප්‍රශ්න පත්‍රය කියවා ප්‍රශ්න තෝරා ගැනීමටත් පිළිතුරු ලිවීමේදී ප්‍රමුඛත්වය දෙන ප්‍රශ්න සංවිධානය කර ගැනීමටත් යොදාගන්න.

## ව්‍යවසායකත්ව අධ්‍යයනය I

**උපදෙස්:**

* **සියලු ම** ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.
* අංක **1** සිට **40** තෙක් ප්‍රශ්නවල, දී ඇති (1), (2), (3), (4) යන පිළිතුරුවලින් **නිවැරදි හෝ වඩාත් ගැළපෙන හෝ** පිළිතුර තෝරා ගන්න.
* **ඔබට සැපයෙන පිළිතුරු පත්‍රයේ එක් එක් ප්‍රශ්නය සඳහා දී ඇති කව අතුරෙන් ඔබ තෝරාගත් පිළිතුරෙහි අංකයට සැසඳෙන කවය තුළ (X) ලකුණ යොදන්න.**
* එම පිළිතුරු පත්‍රයේ පිටුපස දී ඇති අනෙක් උපදෙස් ද සැලකිල්ලෙන් කියවා, ඒවා ද පිළිපදින්න.

**1.** ව්‍යවසායකත්වය හැඳින්විය හැක්කේ
(1) වටිනා අදහසක් ලෙස ය.
(2) දැනුම පමණක් සම්බන්ධ වූවක් ලෙස ය.
(3) පුද්ගලයකු හා සම්බන්ධ මනෝභාවයක් ලෙස ය.
(4) සාර්ථකත්වයට අත්‍යවශ්‍ය දෙයක් ලෙස ය.

**2.** නවෝත්පාදන බිහිවීම සඳහා ව්‍යවසායකයකු තුළ තිබිය යුතු මූලික ලක්ෂණයක් වන්නේ
(1) නිර්මාණශීලී චින්තනයයි. (2) පරිසර විශ්ලේෂණයයි.
(3) කැපවීමයි. (4) දැක්මයි.

**3.** නිපුන් සහ සුපුන් මිතුරන් ය. නිපුන් ආනයනය කරන ලද විදුලි පහන් අලෙවි කිරීමේ ව්‍යාපාරයක් ආරම්භ කළ අතර සුපුන් ඉවත දමන ප්ලාස්ටික් ප්‍රතිචක්‍රීකරණය කර ප්ලාස්ටික් උපකරණ නිෂ්පාදනය කිරීමේ ව්‍යාපාරයක් ආරම්භ කරන ලදි. මෙහි සඳහන්
(1) නිපුන් හා සුපුන් දෙදෙනා ම ව්‍යවසායකයෝ ය.
(2) නිපුන් හා සුපුන් දෙදෙනා ම ව්‍යාපාරිකයෝ ය.
(3) නිපුන් ව්‍යවසායකයකු වන අතර සුපුන් ව්‍යාපාරිකයෙකි.
(4) සුපුන් ව්‍යවසායකයකු වන අතර නිපුන් ව්‍යාපාරිකයෙකි.

**4.** ව්‍යවසායකයකු තමාගේ අරමුණ කරා ස්වයං පාලනයකින් යුතුව ළඟාවීමට කටයුතු කරයි. මෙය හැඳින්විය හැක්කේ
(1) දැක්ම ලෙස ය. (2) නම්‍යශීලීත්වය ලෙස ය.
(3) සුභවාදීවීම ලෙස ය. (4) ස්වාධීනත්වය ලෙස ය.

**5.** සමාජ සුභසාධනය සඳහා ව්‍යවසායකයකුගේ දායකවීමක් වන්නේ
(1) විශාල පිරිසකට රැකියා ලබා දීම ය.
(2) සේවකයින් සඳහා ඉහළ වැටුපක් ගෙවීම ය.
(3) සේවකයින් සඳහා වැඩි පුහුණු අවස්ථා ලබා දීම ය.
(4) ගනුදෙනුකරුවන් සඳහා වට්ටම් ලබා දීම ය.

**6.** ගුණත්ව සම්මාන හිමිකරගත් රජයේ ආයතනවල ප්‍රධානීන් හැඳින්විය හැක්කේ
(1) සමාජයීය ව්‍යවසායකයින් ලෙස ය. (2) ව්‍යාපාර ව්‍යවසායකයින් ලෙස ය.
(3) අභ්‍යන්තර ව්‍යවසායකයින් ලෙස ය. (4) ආර්ථික ව්‍යවසායකයින් ලෙස ය.

[දෙවැනි පිටුව බලන්න.

**7.** ව්‍යවසායකයකුගේ නායකත්ව භූමිකාව ඉටු කිරීමේ කාර්යයකට නිදසුනක් වන්නේ
(1) ව්‍යාපාරයට අවශ්‍ය ප්‍රාග්ධනය සපයාදීමයි.
(2) ව්‍යාපාරයේ සේවකයින්ට අවශ්‍ය කටයුතු සඳහා මඟ පෙන්වීමයි.
(3) ව්‍යාපාර සැලැස්මට අනුව ව්‍යාපාර කටයුතු සිදුවේ දැ යි සොයා බැලීමයි.
(4) ව්‍යාපාරයට අවශ්‍ය මානව හා භෞතික සම්පත් ලබා දීමයි.

**8.** ශ්‍රී ලංකාවේ පවතින ස්වභාවික සම්පත් බහුල වශයෙන් භාවිත කරනු ලබන ව්‍යාපාරයක් වන්නේ
(1) පොල් ආශ්‍රිත නිෂ්පාදන ව්‍යාපාරයයි. (2) ස්වර්ණාභරණ ව්‍යාපාරයයි.
(3) සංචාරක ව්‍යාපාරයයි. (4) සත්ත්ව ආහාර නිෂ්පාදන ආශ්‍රිත ව්‍යාපාරයයි.

**9.** සුරනිමල සෑම විටම නම්‍යශීලී සැලසුමක් ආයතනය තුළ පවත්වාගෙන යයි. මෙය සුරනිමලගේ ව්‍යාපාරයට
(1) දුර්වලතාවයකි. (2) ශක්තියකි.
(3) අභියෝගයකි. (4) තර්ජනයකි.

**10.** කුඩා පරිමාණ ව්‍යාපාර, තම ව්‍යාපාර කටයුතු කිරීමේ දී බොහෝවිට සලකා බලනු ලබන්නේ
(1) රජය මගින් ලබාදෙන දිරි දීමනා ය. (2) තරගකාරිත්වයේ ස්වරූපය ය.
(3) දේශීය දැනුම හා සම්පත් ය. (4) නායකත්ව හැකියාව ය.

**11.** ව්‍යවසායකයකු විසින් තම ව්‍යාපාරයේ මානව සම්පත නිසි පරිදි මෙහෙයවමින්, උනන්දු කරවමින් හා අවශ්‍ය පරිදි බලපෑම් කරමින් සිදුකරන කාර්යභාරය හඳුන්වන්නේ
(1) අයිතිකරුගේ භූමිකාව ලෙස ය. (2) කළමනාකරුගේ භූමිකාව ලෙස ය.
(3) නායකයාගේ භූමිකාව ලෙස ය. (4) ව්‍යාපාරිකයාගේ භූමිකාව ලෙස ය.

**12.** කුඩා පරිමාණ ව්‍යාපාරයක දැකිය **නොහැකි** ලක්ෂණයක් වන්නේ
(1) කුඩා ප්‍රාග්ධනයක් ආයෝජනය කර තිබීම ය. (2) තීරණ ගැනීමට ඇති අපහසුතාව ය.
(3) සේවක සංඛ්‍යාව අඩු වීම ය. (4) තනි අයිතිකරුවකු සතු වීම ය.

**13.** වර්තමානයේ බොහෝ ආහාර නිෂ්පාදන ව්‍යාපාර, ඔවුන්ගේ නිෂ්පාදිත පාරිභෝගික ඇණවුම් මත නිවසටම බෙදා හැරීම කරනු ලබයි. මෙය අයත් වන්නේ
(1) ප්‍රාථමික අංශයට ය. (2) ද්විතීයික අංශයට ය.
(3) තෘතීයික අංශයට ය. (4) නිෂ්පාදන අංශයට ය.

**14.** වර්තමානයේ ශ්‍රී ලංකාවේ ව්‍යවසායකයින්ට බලපා ඇති ආර්ථික පරිසර සාධකයක් වන්නේ
(1) තරගකරුවන් ස්වකීය උපාය මාර්ග වෙනස් කිරීම ය.
(2) ණය පොලී අනුපාතය වැඩි කිරීම ය.
(3) ජනගහනයෙහි වැඩිහිටි පුද්ගල සංඛ්‍යාව ඉහළ යාම ය.
(4) අන්තර්ජාල සේවා තුළින් විදේශ වෙළෙඳපොළට පිවිසීමේ අවස්ථා වැඩි කිරීම ය.

**15.** අමල් නිර්මාංශික පාරිභෝගිකයන් වෙනුවෙන් ම නව සොසේජස් වර්ගයක් වෙළෙඳපොළට හඳුන්වා දීමට තීරණය කරයි. මෙහි දී අමල් වැඩි වශයෙන් සැලකිල්ලට ගෙන ඇත්තේ
(1) ප්‍රජා පරිසරයයි. (2) ආර්ථික පරිසරයයි.
(3) ස්වභාවික පරිසරයයි. (4) සමාජ හා සංස්කෘතික පරිසරයයි.

**16.** වර්තමාන ශ්‍රී ලංකාවේ ව්‍යාපාර කෙරෙහි ඇඩිව බලපා ඇති දේශපාලන හා නෛතික පරිසර සාධකයක් වන්නේ
(1) පොලී අනුපාත වෙනස් කිරීම ය.
(2) බදු අනුපාත වෙනස් කිරීම ය.
(3) තොරතුරු තාක්ෂණය වැඩි දියුණු කිරීම ය.
(4) වැටුප් මට්ටම ඉහළ දැමීම ය.

**17.** සහල් නිෂ්පාදනය කිරීමේ හා බෙදාහැරීමේ ව්‍යාපාරයක් සඳහා බලපාන අභ්‍යන්තර පරිසර සාධකයක් වන්නේ
(1) සහල් පාරිභෝගිකයන්ගේ ජීවන මට්ටම පහළ යාම ය.
(2) සහල් ආනයනය කිරීම සීමා කිරීම ය.
(3) නියඟය නිසා වී නිෂ්පාදනය අඩු වීම ය.
(4) ප්‍රමාණවත් වී ගබඩා නොමැති වීම ය.

[තුන්වැනි පිටුව බලන්න.

**18.** ව්‍යවසායකයෙකු තුළ ව්‍යාපාර අදහස් ජනනය වීම සඳහා කැමැත්ත සමග තිබිය යුතු අත්‍යවශ්‍යම ලක්ෂණය වන්නේ
(1) ස්වාධීනත්වය යි. (2) සුභවාදී වීමයි.
(3) නිර්මාණශීලීත්වය යි. (4) නම්‍යශීලීත්වය යි.

**19.** නූතන ව්‍යාපාර පරිසරය, අතීත ව්‍යාපාර පරිසරය හා සංසන්දනය කිරීමේ දී, නූතන ව්‍යාපාර පරිසරය සම්බන්ධව වඩාත් නිවැරදි පිළිතුර තෝරන්න.
(1) වෙනස්වීමේ වේගය වැඩි වීම, තරගකාරිත්වය අඩු වීම සහ පාරිභෝගිකයන් බලවත් වීම
(2) වෙනස්වීමේ වේගය වැඩි වීම, තරගකාරිත්වය වැඩි වීම සහ ව්‍යාපාරිකයන් බලවත් වීම
(3) වෙනස්වීමේ වේගය වැඩි වීම, තරගකාරිත්වය වැඩි වීම සහ පාරිභෝගිකයන් බලවත් වීම
(4) වෙනස්වීමේ වේගය වැඩි වීම, තරගකාරිත්වය වැඩි වීම සහ ගෝලීය වශයෙන් ව්‍යාප්ත නොවීම

**20.** කෙවින් අන්තර්ජාලය භාවිතයෙන් ඇණවුම් භාර ගෙන කලිසම් හා කමිස නිවසටම සපයයි. මෙය,
(1) පවතින භාණ්ඩයක් පවතින වෙළෙඳපොළට ඉදිරිපත් කිරීමකි.
(2) පවතින භාණ්ඩයක් නව වෙළෙඳපොළට ඉදිරිපත් කිරීමකි.
(3) නව භාණ්ඩයක් පවතින වෙළෙඳපොළට ඉදිරිපත් කිරීමකි.
(4) නව භාණ්ඩයක් නව වෙළෙඳපොළට ඉදිරිපත් කිරීමකි.

**21.** ව්‍යාපාරයක සීමිත සම්පත් යොදාගනිමින් භාණ්ඩ හා සේවා නිෂ්පාදනය කිරීම හා බෙදාහැරීම සහ මිල මත ගනුදෙනු සිදුකිරීම සැලකිය හැක්කේ
(1) මූල්‍යමය ගනුදෙනුවක් ලෙස ය.
(2) ආර්ථික කටයුත්තක් ලෙස ය.
(3) අවදානම් සහිත කටයුත්තක් ලෙස ය.
(4) සම්පත් ගනුදෙනුවල යෙදවීමක් ලෙස ය.

**22.** ව්‍යවසායකයකු විසින් තම සංවිධානයේ අරමුණු හා පරමාර්ථ ද ඒවා ඉටු කර ගන්නා ආකාරය ද ඇතුළත් කරමින් පිළියෙල කරනු ලබන වාර්තාව,
(1) ව්‍යාපාර සැලැස්ම වේ.
(2) මූල්‍ය සැලැස්ම වේ.
(3) අයවැය සැලැස්ම වේ.
(4) ආයෝජන පුරෝකථන සැලැස්ම වේ.

**23.** නවීන් අන්තර්ජාලය (online) භාවිතයෙන් පෞද්ගලික ඉගැන්වීමේ ව්‍යාපාරයක් ආරම්භ කිරීමට අදහස් කරයි. මේ සඳහා වඩාත් යෝග්‍ය ස්ථානය වන්නේ
(1) පාසලක් අසල ගොඩනැගිල්ලක් ය.
(2) මාර්ග පහසුකම් සහිත ගොඩනැගිල්ලක් ය.
(3) තම නිවසේ නිසංසල කාමරයක් ය.
(4) ජනාකීර්ණ නගරයක සුපිරි වෙළෙඳසැල් ගොඩනැගිල්ලක කොටසක් ය.

**24.** විශ්‍රාමිකයින් සඳහා 'සුරැකුම් මධ්‍යස්ථාන' ආරම්භ කිරීම සැලකිය හැක්කේ
(1) සුවිශේෂී නව සේවාවක් ඉදිරිපත් කිරීමක් ලෙස ය.
(2) නිෂ්පාදිත ප්‍රභේදයක් භාවිත කරමින් ඉදිරිපත් කිරීමක් ලෙස ය.
(3) වෙළෙඳපොළ හිඩැස දැක සේවාවක් ඉදිරිපත් කිරීමක් ලෙස ය.
(4) නවෝත්පාදනයක් ඉදිරිපත් කිරීමක් ලෙස ය.

**25.** ව්‍යාපාරයක් පරිසර දූෂණය අවම කිරීම තුළින් ඉටුකරනු ලබන්නේ
(1) පරාර්ථකාමී වගකීම ය. (2) සදාචාරාත්මක වගකීම ය.
(3) ආර්ථික වගකීම ය. (4) නීතිමය වගකීම ය.

**26.** ව්‍යාපාරයක් විසින් ඉටු කරනු ලබන නීතිමය වගකීමක් වන්නේ
(1) සේවකයින් පුහුණු කිරීම හා සංවර්ධනය කිරීම ය.
(2) භාණ්ඩවල ගුණාත්මකභාවය වර්ධනය කිරීම ය.
(3) සේවක අර්ථසාධක අරමුදල් නිසි පරිදි ගෙවීම ය.
(4) අධ්‍යාපනය හා සෞඛ්‍ය වැනි ප්‍රජා කටයුතු සඳහා අනුග්‍රහය දැක්වීම ය.

**27.** කේවල ස්වාමි ව්‍යාපාරයක් හවුල් ව්‍යාපාරයකින් වෙනස් වන්නේ
(1) වගකීම තුළින් ය. (2) පැවැත්ම තුළින් ය.
(3) හිමිකාරිත්වය තුළින් ය. (4) ලියාපදිංචිය තුළින් ය.

**28.** වර්තමානයේ ක්‍රියාත්මක වන ස්වයං සේවා අලෙවි ක්‍රමය නවෝත්පාදනයකි. එය සැලකිය හැක්කේ
(1) නව සොයාගැනීමක් ලෙස ය.
(2) පවතින සේවාවක දිගුවක් ලෙස ය.
(3) අනුකරණය කිරීමක් ලෙස ය.
(4) සංකලනයක් ලෙස ය.

**29.** 'ගැටලු හා අවස්ථා දෙස බලා ඒවාට විසඳුම් ලෙස නව අදහස් සංවර්ධනය කිරීමට ඇති හැකියාව' හඳුන්වනු ලබන්නේ,
(1) නිර්මාණශීලීත්වය ලෙස ය. (2) නවෝත්පාදනය ලෙස ය.
(3) අවදානම් භාර ගැනීම ලෙස ය. (4) සුභවාදී වීම ලෙස ය.

**30.** වර්තමානයේ ඇමරිකානු ඩොලරයට සාපේක්ෂව ශ්‍රී ලංකා රුපියලෙහි හුවමාරු අගය වෙනස් වීම අදාළ වන්නේ
(1) ප්‍රජා පරිසරයට ය. (2) ආර්ථික පරිසරයට ය.
(3) දේශපාලන හා නෛතික පරිසරයට ය. (4) ගෝලීය පරිසරයට ය.

**31.** සීමාසහිත පෞද්ගලික සමාගමක සිටිය යුතු අවම හා උපරිම සාමාජික සංඛ්‍යාව අනුපිළිවෙළින්
(1) 1 හා 20 කි. (2) 2 හා 20 කි.
(3) 1 හා 50 කි. (4) 2 හා 50 කි.

**32.** සුනිල් තම ප්‍රදේශයේ සිල්ලර වෙළෙඳසැලක් ආරම්භ කිරීමට අපේක්ෂා කරයි. ඔහුගේ යෝජිත ව්‍යාපාරයට අවස්ථාවක් වන්නේ
(1) ව්‍යාපාරයට යෙදවීම සඳහා අවශ්‍ය මුදල තමා සතුව තිබීම ය.
(2) ව්‍යාපාර කළමනාකරණය සම්බන්ධ හොඳ දැනුමක් තිබීම ය.
(3) ඔහුගේ ප්‍රදේශයේ පවත්වාගෙන ගිය එකම සිල්ලර වෙළෙඳසැල වසා දැමීම ය.
(4) රජය විසින් ව්‍යාපාර සඳහා අයකරනු ලබන බදු ඉහළ දැමීම ය.

**33.** අමර තම ව්‍යාපාරයේ නමින් බැංකු ණයක් අයදුම් කළ ද බැංකුව එය ප්‍රතික්ෂේප කළ අතර, ඔහු නමින් ණයක් ලබා දිය හැකි බව දන්වා ඇත. මෙයට හේතුව වන්නේ
(1) ව්‍යාපාරයේ හිමිකාරිත්වය තනි පුද්ගලයෙකු සතු වීම ය.
(2) ව්‍යාපාරය ලියාපදිංචි කර නොතිබීම ය.
(3) ව්‍යාපාරයට නෛතික පුද්ගලභාවයක් නොමැති වීම ය.
(4) ව්‍යාපාරයේ අඛණ්ඩ පැවැත්මක් නොමැතිවීම ය.

**34.** ඉහළ කාර්යඵල, අවිනිශ්චිත අනාගතය සහ තරගකාරිත්වය යන සාධක ව්‍යවසායකත්වයේ දී සලකනු ලබන්නේ
(1) පාරිසරික සාධක ලෙස ය. (2) අභියෝගාත්මක සාධක ලෙස ය.
(3) නිෂ්පාදන සාධක ලෙස ය. (4) අභ්‍යන්තර සාධක ලෙස ය.

**35.** යෝජිත නිෂ්පාදන ව්‍යාපාරයක් සඳහා ජල පහසුකම් ලබා ගැනීම සඳහා වූ වියදම
(1) නිෂ්පාදන පිරිවැයකි.
(2) පරිපාලන වියදමකි.
(3) ආරම්භ කිරීමට පෙර වියදමකි.
(4) ව්‍යාපාර කටයුතු දෛනිකව පවත්වාගෙන යාමට අවශ්‍යවන වියදමකි.

**36.** නිෂ්පාදන හා වෙළෙඳ ව්‍යාපාරයක අලෙවි සැලැස්මෙහි ඇතුළත් ස්ථාවර වත්කමක් වන්නේ
(1) කර්මාන්තශාලා ගොඩනැගිල්ල ය.
(2) කාර්යාලීය ලී බඩු ය.
(3) භාණ්ඩ බෙදාහැරීම සඳහා භාවිත කරන මෝටර් රථ ය.
(4) භාණ්ඩ නිෂ්පාදනය කිරීම සඳහා භාවිත කරන යන්ත්‍ර හා උපකරණ ය.

**37.** යෝජිත ව්‍යාපාරයක අපේක්ෂිත ප්‍රතිඵල ගණනය කිරීමේ ලේඛනය සකස් කිරීමේ දී භාවිත කෙරෙන මුදල් ගලා ඒමක් වන්නේ
(1) අයිතිකරුගේ ආයෝජනයි. (2) බැංකු ණයයි.
(3) අපේක්ෂිත අලෙවි ආදායමයි. (4) ණයගැති ලැබීම්ය.

[පස්වැනි පිටුව බලන්න.

**38.** යෝජිත නිමි ඇඳුම් ව්‍යාපාරයක කර්මාන්තශාලා සේවකයින්ගේ වැටුප් ඇස්තමේන්තුව ඇතුළත් වන්නේ
(1) මූල්‍ය සැලැස්මෙහි ය. (2) නිෂ්පාදන සැලැස්මෙහි ය.
(3) පරිපාලන සැලැස්මෙහි ය. (4) අලෙවි සැලැස්මෙහි ය.

**39.** ව්‍යාපාර සැලැස්මක මූලිකාංගවලින් උපුටාගත් තොරතුරු කිහිපයක් පහත දැක්වේ.

A – තරගකරුවන්
B – ව්‍යාපාර ලියාපදිංචි ගාස්තුව
C – කාරක ප්‍රාග්ධනය
D – ප්‍රචාරණ වියදම්
E – කාර්යාල සේවක වැටුප්

ඉහත තොරතුරුවලින් අලෙවි සැලැස්මෙහි ඇතුළත් වන්නේ මොනවාද?
(1) A හා B . (2) A හා D. (3) B හා C. (4) D හා E.

**40.** සරණි ළමා ඇඳුම් සකස් කර විකිණීමේ ව්‍යාපාරයක් ආරම්භ කිරීමට තීරණය කර ඇත. පළමු මාසය සඳහා ඇයගේ ඇස්තමේන්තුවේ ඇතුළත් වියදම් කිහිපයක් පහත දී ඇත.

| | |
|---|---|
| රෙදි ඇතුළු අමුද්‍රව්‍ය සඳහා | රු. 120 000 |
| සේවක වැටුප් සඳහා | රු. 50 000 |
| ගෙවල් කුලී හා විදුලිය සඳහා | රු. 60 000 |
| ව්‍යාපාර සැලැස්ම සැකසීමේ වියදම | රු. 10 000 |

මෙම තොරතුරුවලට අනුව සරණිගේ යෝජිත ව්‍යාපාරයේ ඇස්තමේන්තුගත දෛනික ව්‍යාපාර කටයුතු සඳහා වියදම (කාරක ප්‍රාග්ධනය),
(1) රු. 240 000 කි. (2) රු. 230 000 කි. (3) රු. 170 000 කි. (4) රු. 110 000 කි.

**

63 S I, II

අධ්‍යයන පොදු සහතික පත්‍ර (සාමාන්‍ය පෙළ) විභාගය, 2022(2023)
கல்விப் பொதுத் தராதரப் பத்திர (சாதாரண தர)ப் பரீட்சை, 2022(2023)
General Certificate of Education (Ord. Level) Examination, 2022(2023)

| | |
|---|---|
| **ව්‍යවසායකත්ව අධ්‍යයනය** | **I, II** |
| முயற்சியாண்மைக் கற்கை | I, II |
| Entrepreneurship Studies | I, II |

## ව්‍යවසායකත්ව අධ්‍යයනය II

✳ **පළමුවන** ප්‍රශ්නය ඇතුළුව ප්‍රශ්න **පහකට** පමණක් පිළිතුරු සපයන්න.

**1.** පහත දී ඇති සිද්ධිය හොඳින් කියවා (i) සිට (x) තෙක් ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.

නලීන් පෞද්ගලික ආයතනයක සේවය කරයි. ඔහු අළුත් දේවල් කිරීමට කැමැත්තක් දැක්වුව ද තම රැකියාව නිසා එයට අවස්ථාවක් නොලැබුණි. නලීන්ගේ පියාවන සුනිල්ට රෙදිපිළි වෙළෙඳසැලක් ඇත. එය ඔහුගේ පියාගෙන් ලද බැවින් සුනිල් එම ව්‍යාපාරයේ කිසිඳු වෙනසක් කිරීමට අකැමති ය. තම පියා ව්‍යාපාරය පවත්වාගෙන ගිය ආකාරයට ම සුනිල් ද මෙම ව්‍යාපාරය පවත්වාගෙන ගිය අතර තම පුතු නලීන් විසින් ඉදිරිපත් කරනු ලබන නව අදහස් වුව ද පිළිගැනීමට මැලිවිය.

නලීන් තම රැකියාවෙන් ඉවත් වී, කාන්තා ඇඳුම් සැකසීමේ නව ව්‍යාපාරයක් 'විලාසිතා' නමින් සිය බිරිඳ වන නයනාගේ ද සහාය ඇතිව ආරම්භ කිරීමට තීරණය කර ඇත. නලීන්ගේ බිරිඳ නයනාට කාන්තා ඇඳුම් සඳහා නව විලාසිතා නිර්මාණය කිරීමේ හැකියාවක් ඇත. නලීන් හා නයනා පිළිවෙළින් රු.500 000 හා රු.300 000 ක මුදල් ව්‍යාපාරයට යෙදවීමට එකඟ වී ඇත. ව්‍යාපාරය කුලී ගොඩනැගිල්ලක පවත්වාගෙන යාමටත්, මහන මැෂින් දෙකක් මිල දී ගැනීමටත්, ඇඳුම් මැසීම සඳහා සේවිකාවන් දෙදෙනෙකු බඳවා ගැනීමටත්, ඔවුන්ගේ නිෂ්පාදිත තම පියාගේ රෙදිපිළි වෙළෙඳසැලේ විකිණීමට සහ අන්තර්ජාලය ඔස්සේ ඇණවුම් භාර ගෙන ඒවා බෙදා හැරීමටත් නලීන් අපේක්ෂා කරයි.

(i) නලීන් සතු ව්‍යවසායකත්ව ගති ලක්ෂණ **දෙකක්** සඳහන් කර ඒවා සිද්ධිය ඇසුරින් නිදසුන් දෙමින් සනාථ කරන්න.

(ii) සුනිල් ව්‍යාපාරිකයකු වුව ද ව්‍යවසායකයකු නොවන බව දැක්වෙන කරුණු **දෙකක්** ලියන්න.

(iii) පෞද්ගලික ආයතනයක රැකියාවක නියැලෙනවාට වඩා ව්‍යාපාරයක් ආරම්භ කිරීමෙන් නලීන්ට ලබාගත හැකි ප්‍රතිලාභ **දෙකක්** සඳහන් කරන්න.

(iv) නලීන්ට මෙම යෝජිත ව්‍යාපාරය ආරම්භ කිරීම සඳහා තෝරාගත හැකි ව්‍යාපාර සංවිධාන වර්ගයක් නම් කර, එම ව්‍යාපාර සංවිධාන වර්ගයේ වාසි **දෙකක්** ලියන්න.

(v) යෝජිත ව්‍යාපාරයේ නිෂ්පාදිත අලෙවි කිරීම සඳහා නලීන් විසින් භාවිත කිරීමට අපේක්ෂිත අලෙවි උපාය මාර්ග **දෙකක්** සඳහන් කරන්න.

- නලීන්ගේ යෝජිත ව්‍යාපාර සැලැස්මෙන් උපුටාගත් තොරතුරු කිහිපයක් පහත දී ඇත.

| **අයිතම** | **රු.** |
|---|---|
| මැෂින් දෙකක් මිලදී ගැනීම | 350 000 |
| ව්‍යාපාර සැලැස්ම සකස් කිරීම | 20 000 |
| ව්‍යාපාරය ලියාපදිංචි කිරීම | 30 000 |
| පළමු මාසය සඳහා වියදම් : | |
| රෙදි හා අනෙකුත් අමුද්‍රව්‍ය | 255 000 |
| සේවිකාවන් දෙදෙනාගේ වැටුප | 50 000 |
| පරිපාලන හා බෙදාහැරීමේ වියදම් | 95 000 |
| පළමු මාසය සඳහා විකුණුම් ආදායම් | 580 000 |

**අවශ්‍ය වන්නේ:** නලීන්ගේ යෝජිත ව්‍යාපාරයේ පහත සඳහන් දෑ

(vi) මුළු ආයෝජනය හා මුළු වත්කම්

(vii) මුදල් ගලා ඒම් දෙකක් හා මුදල් ගලායාම් දෙකක්

(viii) මුළු නිෂ්පාදන පිරිවැය

(ix) ආරම්භ කිරීමට පෙර වියදම්

(x) පළමු මාසය සඳහා ශුද්ධ ලාභය (ලකුණු 02 × 10 = 20 යි)

[හත්වැනි පිටුව බලන්න.

**2.** (i) 'ව්‍යවසායකත්වය' යන්න කෙටියෙන් පැහැදිලි කරන්න.

(ii) වර්තමානයේ ශ්‍රී ලංකාවේ පවතින ආර්ථික අර්බුදය තුළ ව්‍යවසායක්වය තුළින් හිමිවන ප්‍රතිලාභ **හතරක්** සඳහන් කරන්න.

(iii) වෙනස් වන පරිසරයක් තුළ ව්‍යවසායකයකුගේ නිර්මාණශීලීත්වයට බාධාකාරී වන සාධක **හතරක්** ලියන්න.

(iv) ව්‍යවසායකයකු විසින් වර්ධනය කර ගත යුතු කුසලතා **දෙකක්** නම් කර ඒ එකිනෙක සඳහා නිදසුන බැගින් ලියන්න.

(v) ව්‍යාපාරයක් ආරම්භ කිරීමේ දී ව්‍යවසායකයකු විසින් ගත යුතු තීරණ **හතරක්** සඳහන් කරන්න.

(ලකුණු 02 × 05 = 10 යි)

**3.** (i) ශ්‍රී ලංකාවේ තිබෙන ස්වභාවික සම්පත් **දෙකක්** නම් කර, ඒවා තුළින් බිහි වී ඇති ව්‍යාපාර අවස්ථාවක් බැගින් සඳහන් කරන්න.

(ii) වෙනස්වන පරිසරය තුළ සිදුවන සැබෑ වෙනස්කම් අවබෝධ කර ගැනීම තුළින් ව්‍යවසායකයකුට ලබා ගත හැකි ප්‍රයෝජන **දෙකක්** ලියන්න.

(iii) ව්‍යාපාරයක කටයුතු කෙරෙහි බලපාන අභ්‍යන්තර පරිසර සාධක **දෙකක්** නම් කර, ඒවා ව්‍යාපාරයට ශක්තීන් වන ආකාරය කෙටියෙන් සඳහන් කරන්න.

(iv) ව්‍යවසායකයකු මුහුණ දෙන අවදානම හා ප්‍රතිලාභය අතර පවතින සම්බන්ධය කෙටියෙන් පැහැදිලි කරන්න.

(v) ව්‍යවසායකයකු අයිතිකරුගේ භූමිකාව තුළ ඉටුකරන කාර්ය සඳහා නිදසුන් **හතරක්** ලියන්න.

(ලකුණු 02 × 05 = 10 යි)

**4.** (i) ව්‍යාපාර සංවිධාන අයිතිය අනුව වර්ග දෙකකට බෙදයි. එම වර්ග **දෙක** නම් කර, ඒ සඳහා **එක්** නිදසුන බැගින් සපයන්න.

(ii) සෑම ව්‍යාපාර සංවිධානයකම දැකිය හැකි පොදු ලක්ෂණ **හතරක්** ලියන්න.

(iii) තෝවල ස්වාමි ව්‍යාපාරයක අයිතිකරුවකු හවුල් ව්‍යාපාරයක හවුල්කරුවෙකුට වඩා ලබන වාසි **දෙකක්** ලියන්න.

(iv) සංස්ථාපිත සමාගම්වල පහත සඳහන් කාර්ය ඉටු කෙරෙන ආකාරය කෙටියෙන් සඳහන් කරන්න.

(අ) ප්‍රාග්ධනය රැස් කිරීම

(ආ) කළමනාකරණය

(v) ව්‍යාපාරයක් ආරම්භ කිරීමට පෙර 'ව්‍යාපාර නාමය ලියාපදිංචි කිරීමේ සහතිකය' ලබා ගැනීම සඳහා ව්‍යවසායකයකු විසින් අනුගමනය කළ යුතු පියවර සඳහන් කරන්න.

(ලකුණු 02 × 05 = 10 යි)

**5.** (i) බොහෝ කුඩා පරිමාණ ව්‍යාපාර අසාර්ථකවීමට බලපාන හේතු **හතරක්** ලියන්න.

(ii) නව භාණ්ඩයක් හෝ සේවාවක් නව වෙළෙඳපොළකට ඉදිරිපත් කිරීමෙන් ව්‍යවසායකයකුට ලැබෙන වාසියක් හා අවාසියක් සඳහන් කරන්න.

(iii) නව ව්‍යවසායකයකුට ව්‍යාපාරයක් ආරම්භ කිරීමේ දී ප්‍රාග්ධනය සම්පාදනය කර ගත හැකි මාර්ග **හතරක්** ලියන්න.

(iv) ව්‍යාපාර අවස්ථාවකට සුදුසු හොඳ ව්‍යාපාර අදහසක් තෝරා ගැනීමේ ක්‍රියාවලියේ දී සූක්ෂම විශ්ලේෂණය සඳහා ගැඹුරින් සලකා බලන නිර්ණායක **හතරක්** සඳහන් කරන්න.

(v) ව්‍යාපාර සැලැස්මක වැදගත් මූලිකාංගයක් වන 'විධායක සාරාංශය' තුළ ඇක්වෙන තොරතුරු මොනවාද ?

(ලකුණු 02 × 05 = 10 යි)

6. (i) ව්‍යාපාරයක් කෙරෙහි උනන්දු වන පාර්ශ්ව **දෙකක්** නම් කර, එම පාර්ශ්වයන්ගේ අපේක්ෂාවන් **දෙක** බැගින් සඳහන් කරන්න.

(ii) රජය හා රාජ්‍ය නොවන ආයතන විසින් ව්‍යවසායකයින්ට ලබා දෙනු ලබන දිරිගැන්වීම් **හතරක්** ලියන්න.

(iii) අලෙවි සැලැස්මෙහි ඇතුළත් වෙළෙඳපොළ විශ්ලේෂණය සඳහා අවශ්‍ය තොරතුරු ලබා ගැනීමට බහුල වශයෙන් භාවිත කෙරෙන ක්‍රම **හතරක්** සඳහන් කරන්න.

(iv) කාන්තාවන් ව්‍යවසායකත්වය සඳහා දිරිගැන්වීමට බලපාන හේතු **හතරක්** ලියන්න.

(v) 'ශ්‍රී ලංකාවේ යහපත් ව්‍යවසායකත්ව සංස්කෘතියක් නිර්මාණය කිරීම තුළින් රටේ පවතින ගැටලු බොහොමයකට විසඳුම් ලබා ගත හැකිවේ.' ශ්‍රී ලංකාවේ දැනට පවතින ගැටලු **දෙකක්** ඇසුරෙන් මෙම ප්‍රකාශය සනාථ කරන්න.

(ලකුණු 02 × 05 = 10 යි)

7. රාජ් පලතුරු බීම සකස් කර විකිණීම සඳහා කුඩා ව්‍යාපාරයක් ආරම්භ කිරීමට තීරණය කර ඇත. පළමු මාසය සඳහා ඔහුගේ ව්‍යාපාරයේ ඇස්මේන්තුගත ආදායම් හා වියදම් පහත දී ඇත.

**වියදම්:**

| | රු. |
|---|---|
| අමුද්‍රව්‍ය මිල දී ගැනීම ........ | 40 000 |
| බීම සකස්කරන්නාගේ වැටුප් ........ | 20 000 |
| වෙනත් නිෂ්පාදන වියදම් ........ | 10 000 |
| ගෙවල් කුලී හා විදුලිය ........ | 20 000 |
| අලෙවි වියදම් ........ | 15 000 |
| බැංකු ණය පොලී ........ | 5 000 |

**ආදායම්:**

| | |
|---|---|
| විකුණුම් ........ | 150 000 |

**අවශ්‍ය වන්නේ:**

විකුණුම් ආදායම, මුළු නිෂ්පාදන පිරිවැය, මුළු නිෂ්පාදන නොවන පිරිවැය හා ශුද්ධ ලාභය දැක්වෙන පරිදි රාජ්ගේ යෝජිත ව්‍යාපාරයේ පළමු මාසය සඳහා **අපේක්ෂිත ප්‍රතිඵල ගණනය කිරීමේ ලේඛනය** පිළියෙල කිරීම.

(ලකුණු 10 යි)

* * *

